7396



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2556 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2012(2013)

S 1

## (01) බුද්ධ චරිතය

පැ. තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් **එක්** ප්‍රශ්නයක්වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (අ) සිදුහත් බෝසතාණන්ගේ පියාගේ නමත්, පරපුරත්, අගනුවරත්, පියාගේ පියා(සීයා)ගේ නමත් සඳහන් කරන්න. (ලකුණු 04 යි)
   (ආ) සිදුහත් බෝසතාණන්ගේ මවගේ නමත්, පරපුරත්, අගනුවරත්, මවගේ පියාගේ නමත් සඳහන් කරන්න. (ලකුණු 04 යි)
   (ඉ) බෝසත් උපත, අසිත තවුසා හමුවීම සහ නම් තැබීම යන සිදුවීම් කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) වප්මගුල් උත්සවය, සිදුහත් කුමරුගේ ශිල්ප ඉගෙනීම හා විවාහය යන සිදුවීම් කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

2. (අ) බ්‍රාහ්මණ සමාජයේ චතුර්වර්ණයත්, බුදු සසුනේ සිව්වණක් පිරිසත් නම් කරන්න. (ලකුණු 04 යි)
   (ආ) බ්‍රාහ්මණ ඉගැන්වීම්වලට අනුව චතුර්වර්ණය බිහි වූයේ මහා බ්‍රහ්මයාගේ කවර කවර අවයවවලින් දැයි දක්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) "බුද්ධ කාලීන භාරතයේ සමාජ විෂමතාවන්ට බ්‍රාහ්මණ ඉගැන්වීම් ඉවහල් විය." යන ප්‍රකාශය තහවුරු කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) බ්‍රාහ්මණ ඉගැන්වීම්වලින් පීඩාවට පත් භාරතීය සමාජයට සහනය උදාකර දීම සඳහා බුදුරදුන් දැරූ වෙහෙස ඇගයීමට ලක්කරන්න. (ලකුණු 06 යි)

3. (අ) දුක්ඛ ආර්ය සත්‍යයෙහි විස්තර වන ජරා, ව්‍යාධි, මරණ යන අවස්ථා පිළිබඳ අත්දැකීම් බෝසතාණන්ට කුමාර කාලයේ ම අත්විඳින්නට ලැබුණු ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 04 යි)
   (ආ) "නිබ්බාණ ගවේෂණයට සිත යොමු කෙරුණු ගාථාවක් කිසාගෝතමිය පැවසුවාය." එම ගාථාව ලියන්න. (ලකුණු 04 යි)
   (ඉ) සිදුහත් බෝසතාණන්ගේ මහාභිනිෂ්ක්‍රමණය පිළිබඳ පුවත කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) අත්තකිලමථානුයෝගයේ හිස්බව වටහා ගැනීමට පාදක වූ දුෂ්කර ක්‍රියාව බෝසතාණන් සිදු කළ ආකාරය විස්තර කරන්න. (ලකුණු 06 යි)

### II කොටස

4. (අ) බෝසතාණන් වජ්‍රාසනයෙහි වැඩ හිඳිමින් ඉපිදවූ චතුරංග වීර්යය කෙටියෙන් දක්වන්න. (ලකුණු 04 යි)
   (ආ) බෝසතාණන්ගේ වජ්‍රාසනය උදුරා ගැනීමට වසවර්ති මාරයා දැරූ ප්‍රයත්නය කෙටියෙන් දක්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) බුද්ධත්වයට පත්ව ප්‍රකාශ කළ උදාන ගාථාව දක්වා එහි අදහස පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) බුදු වී ගෙවූ සත් සතිය නම් කර, එක් එක් සතියේ සිදුවීම් කෙටියෙන් දක්වන්න. (ලකුණු 06 යි)

5. (අ) දම්සක් පැවතුම් සූත්‍ර දේශනාවෙහි පැවිද්දෙකු විසින් අත්හළ යුතු අන්ත දෙකක් දැක්විණි. එම අන්ත **දෙක** සඳහන් කරන්න. (ලකුණු 04 යි)
   (ආ) එම සූත්‍රයේ දැක්වුණු මධ්‍යම ප්‍රතිපදාවේ අංග **අට** නම් කරන්න. (ලකුණු 04 යි)
   (ඉ) පස්වග තවුසන්ට දහම් දෙසූ ආකාරයත් ඔවුන් සත්‍යාවබෝධය ලත් අන්දමත් බුදු සසුනේ පැවිද්ද ලැබූ ආකාරයත් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) බුදු සසුනේ ප්‍රථම ධර්ම දූත කණ්ඩායම නම් කොට, බුදුරදුන් ඔවුන්ට දුන් අවවාදය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

6. (අ) බුදුරජාණන් වහන්සේගේ අග්‍රශ්‍රාවක දෙනම නම් කොට උන්වහන්සේලාගේ ගිහි නම් ද සඳහන් කරන්න. (ලකුණු 04 යි)
   (ආ) බුදුරජාණන් වහන්සේ බිම්බිසාර රජු වෙත වැඩම කළ විට රජුගේ ප්‍රාර්ථනා පහක් ඉටුවිණැයි රජතුමා පැවසීය. ඉන් **හතරක්** නම් කරන්න. (ලකුණු 04 යි)
   (ඉ) අග්‍රශ්‍රාවක දෙනම බුදු සසුනේ පැවිදිවීම පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) බුදු සසුනේ ප්‍රථම ආරාම පූජාව පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

[ දෙවන පිටුව බලන්න.

## III කොටස

7. (අ) බුදුරදුන් යමාමහ පෙළහර පෑ අවස්ථා **දෙකක්** නම් කරන්න. (ලකුණු

(ආ) යසෝධරා දේවියට දේශනා කළ ජාතක කථාව නම් කරන්න. (ලකුණු

(ඉ) කිඹුල්වත්පුරයේ දී බුදුරදුන් මුල් කොට ගෙන සිදුවූ සිදුවීම් **හයක්** විස්තර කරන්න. (ලකුණු

(ඊ) සුද්ධෝදන රජතුමා සෝවාන්වීමේ හා අනාගාමීවීමේ පුවත් විස්තර කරන්න. (ලකුණු

8. (අ) රතන සූත්‍රය දේශනා කළේ කවර නුවරක දී කුමක් අරභයා කවුරුන්ගේ ආරාධනයෙන් ද? (ලකුණු

(ආ) ජේතවනාරාමය සාදවා පූජා කරන ලද්දේ කවුරුන් විසින් ද? ජේතවනාරාමය තැනූ ඉඩම මිල දී ගෙන
කවුරුන්ගෙන් ද? කවර මිලකට ද? (ලකුණු

(ඉ) බුදුරදුන්ගේ ශාසනයෙහි අග්‍රදායක තනතුර දරන ලද්දේ කවුරුන් විසින් දැයි නම් කොට එතුමාගේ ජීවිත පුවත් හා
ශාසනික සේවය විස්තර කරන්න. (ලකුණු

(ඊ) බුද්ධියේ මහිමය ප්‍රකට කරන සුනීත හා සෝපාක රහතන් වහන්සේලා ගැන සටහනක් ලියන්න. (ලකුණු

9. (අ) අෂ්ට විද්‍යා ඥානයෙන් **හතරක්** ලියන්න. (ලකුණු

(ආ) පසළොස්වරණ ධර්මවලින් **හතරක්** ලියන්න. (ලකුණු

(ඉ) බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ඨ නායකයාණ කෙනෙකු වූ බවට කරුණු දක්වන්න. (ලකුණු

(ඊ) සමාජ ශෝධනය සඳහා මහා කරුණාවෙන් යුතුව බුදුරජාණන් වහන්සේ ක්‍රියා කළ ආකාරය පැහැදිලි ක
(ලකුණු

10. (අ) මෙහෙණි සසුන පිහිටුවීමේ දී පැනවූ ගරු ධර්ම අටෙන් **හතරක්** දක්වන්න. (ලකුණු

(ආ) බුද්ධ ශාසනයේ ප්‍රථම තෙරණිය නම් කර ඇය ලැබූ අග්‍රස්ථානය නම් කරන්න. (ලකුණු

(ඉ) මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ චරිතය විස්තර කරන්න. (ලකුණු

(ඊ) භද්දකච්චායනා තෙරණියගේ චරිතය විස්තර කරන්න. (ලකුණු

* * *